

# පිට ඔපයට රැවටීම

පිට ඔපයෙන් වට කොට ඇති නොයෙකී
රට රටවල ඇති සතුටැති සෙයකී
හෙට ගැන නොසිතා පිනවන දෙයකී
පොට වැරදී යයි එම සත වියැකී

සා ගිනි නිවනට ඇති අහරය මිස
පෑ පිට ඔපයෙන් පිරවෙනවද කුස
කාසිය විසි කරලා ගිය තැන ඇස
දාහය මිස ලැබුවේ කවුරුද තොස

ඔපයෙන් වැඩි දේ පසු පස පන්නා
මිලයෙන් වැඩි කාසිය විසි වන්නා
මොළයෙන් අඩු ඒ ලෝ සත යන්නා
භවයෙන් භවයට අවිදුව එන්නා

එකම දෙයක් නෙක නෙක ලෙස පොරවා
පෙනුම රවට්ටන ලෙස ඇස පුරවා
පුදුම හිතෙන විදියට නිම කරවා
ලොවම ගනියි එක තැනකට හරවා

හොඳ සිහියෙන් බැලුවොත් පිට ඔපයා
මඳකුත් කිම පිට ඔපයට උපයා
ලද හොත් ඉතිරිය දනකට සපයා
නිදහස් සුවයක් දෙන විට සැපයා

දිනකට නිකරුණේ වැනසෙන ධනය
දනකට යෙදුවොත් ඇතිවන පිනය
සිතකට ඇවිදින් පැහැදෙන ගුණය
සැණෙකට නොව මතු සැනසෙන තැනය

අන්දන තරමක් තිබුණද ලෝකේ
බන්දන තරමට ඇයි ද අනේකේ
නන් දන රැවටී බැඳුනද කෝකේ
ඉන් දෙන දාහෙන් නොගනිනු සෝකේ

දහසක් වැඩ කළ හැකි මිල මුදලා
මොහොතක් සැනසෙන වැඩකට යොදලා
පහසක් නොම ගෙන මෙත සිත හදලා
සග මොක් සැප ගනු සසුනට පුදලා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.